සියලු ම හිමිකම් ඇවිරිණි.

රහස්‍ය ලේඛනයකි.



# ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව

## අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2020

# 64 - දෙවන බස සිංහල

## ලකුණු දීමේ පටිපාටිය





මෙය උත්තරපත්‍ර පරීක්ෂකවරුන්ගේ ප්‍රයෝජනය සඳහා සකස් කෙරිණි.
ප්‍රධාන පරීක්ෂක රැස්වීමේ දී ඉදිරිපත් වන අදහස් අනුව මෙහි වෙනස්කම් කරනු ලැබේ.

අවසන් සංශෝධන ඇතුළත් කළ යුතුව ඇත.

# ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
# ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව
# අ.පො.ස. (සා.පෙළ) විභාගය - 2020

## 64 - දෙවන බස සිංහල

## ලකුණු ව්‍යුහය

**I පත්‍රය** : බහුවරණ ප්‍රශ්න 40 කි. ලකුණු 40 යි.

**II පත්‍රය** : කොටස් තුනකි. ප්‍රශ්න 06 න් 05 කට උත්තර ලිවිය යුතු ය. ලකුණු 60 යි.

**එකතුව** 100 යි.



## II පත්‍රය

| | | | |
|---|---|---|---|
| **I කොටස** | 1 ප්‍රශ්නය | ලකුණු 20 යි | **අනිවාර්යයි.** |
| | 2 ප්‍රශ්නය | ලකුණු 10 යි | |
| **II කොටස** | 3 ප්‍රශ්නය | ලකුණු 10 යි | **ප්‍රශ්න එකයි** |
| | 4 ප්‍රශ්නය | ලකුණු 10 යි | |
| **III කොටස** | 5 ප්‍රශ්නය | ලකුණු 10 යි | **ප්‍රශ්න දෙක ම** |
| | 6 ප්‍රශ්නය | ලකුණු 10 යි | |

# අ.පො.ස. (සා.පෙළ) විභාගය - 2020
# උත්තරපත්‍ර ලකුණු කිරීමේ පොදු ශිල්පීය ක්‍රම

උත්තරපත්‍ර ලකුණු කිරීමේ හා ලකුණු ලැයිස්තුවල ලකුණු සටහන් කිරීමේ සම්මත ක්‍රමය අනුගමනය කිරීම අනිවාර්යයෙන් ම කළ යුතුවේ. ඒ සඳහා පහත සඳහන් පරිදි කටයුතු කරන්න.

1. සෑම සහකාර පරීක්ෂකවරයකුම උත්තරපත්‍ර ලකුණු කිරීමට රතුපාට බෝල් පොයින්ට් පෑනක් පාවිච්චි කරන්න.
2. ප්‍රධාන පරීක්ෂක විසින් දම්පාට බෝල් පොයින්ට් පෑනක් පාවිච්චි කළ යුතුය.
3. සෑම උත්තරපත්‍රයක ම මුල් පිටුවේ සහකාර පරීක්ෂක සංකේත අංකය සටහන් කරන්න. ලකුණු සටහන් කිරීමේ දී **පැහැදිලි ඉලක්කමෙන්** ලියන්න.
4. ඉලක්කම් ලිවීමේ දී යම් වැරදීමක් සිදු වුවහොත් එය පැහැදිලිව තනි ඉරකින් කපා හැර නැවත ලියා අත්සන යොදන්න.
5. එක් එක් ප්‍රශ්නයේ අනු කොටස්වල පිළිතුරු සඳහා හිමි ලකුණු ඒ ඒ කොටස අවසානයේ △ ක් තුළ භාග සංඛ්‍යාවක් ලෙස ලියා දක්වන්න. අවසාන ලකුණු ප්‍රශ්න අංකයත් සමඟ □ ක් තුළ, භාග සංඛ්‍යාවක් ලෙස ඇතුළත් කරන්න. ලකුණු සටහන් කිරීම සඳහා පරීක්ෂකවරයාගේ ප්‍රයෝජනය සඳහා ඇති තීරුව භාවිත කරන්න.
6. ගණිත පරීක්ෂක විසින් ලකුණු නිවැරදි බව සටහන් කිරීමට නිල් හෝ කළු පෑනක් භාවිතා කළ යුතුය.

**උදාහරණ : ප්‍රශ්න අංක 03**

(i) ............................................................
............................................................
............................................................ √ $\frac{4}{5}$

(ii) ............................................................
............................................................
............................................................ √ $\frac{3}{5}$

(iii) ............................................................
............................................................
............................................................ √ $\frac{3}{5}$

(03) එකතුව → $\frac{10}{15}$



**බහුවරණ උත්තරපත්‍ර :**

01. කවුළු පත්‍රය සැකසීම

I. ලකුණු දීමේ පටිපාටිය අනුව නිවැරදි වරණ කවුළු පත්‍රයේ සටහන් කරන්න.
II. එසේ ලකුණු කළ කවුළු බ්ලේඩ් තලයකින් කපා ඉවත් කරන්න.
III. කවුළු පත්‍රය උත්තරපත්‍රය මත නිවැරදිව තබා ගත හැකි වන පරිදි විභාග අංක කොටුව හා නිවැරදි පිළිතුරු ගණන දැක්වෙන කොටුව ද කපා ඉවත් කරන්න.
IV. හරි පිළිතුරු හා වැරදි පිළිතුරු ලකුණු කළ හැකි වන පරිදි එක් එක් වරණ පේළිය අවසානයේ හිස් තීරයක් ද කපා ඉවත් කරන්න.
V. **කපා ගත් කවුළු පත්‍රය ප්‍රධාන පරීක්ෂකවරයා ලවා අත්සන් යොදා අනුමත කර ගන්න.**

02. **අනතුරුව උත්තරපත්‍ර හොඳින් පරීක්ෂා කර බලන්න. කිසියම් ප්‍රශ්නයකට එක් පිළිතුරකට වඩා ලකුණු කර ඇත්නම් හෝ එකම පිළිතුරක්වත් ලකුණු කර නැත්නම් හෝ වරණ කැපී යන පරිදි ඉරක් අඳින්න. ඇතැම් විට අයදුම්කරුවන් විසින් මුලින් ලකුණු කර ඇති පිළිතුරක් මකා වෙනත් පිළිතුරක් ලකුණු කර තිබිය හැක. එසේ මකන ලද අවස්ථාවකදී පැහැදිලිව මකා නොමැති නම් මකන ලද වරණය මත ද ඉරක් අඳින්න.**

03. කවුළු පත්‍රය උත්තරපත්‍රය මත නිවැරදිව තබන්න. නිවැරදි පිළිතුර ✓ ලකුණකින් ද, වැරදි පිළිතුර x ලකුණකින් ද ලකුණු කරන්න. නිවැරදි පිළිතුරු සංඛ්‍යාව ඒ ඒ වරණ තීරයට පහළින් ලියා දක්වන්න. අනතුරුව එම සංඛ්‍යා එකතු කර මුළු නිවැරදි පිළිතුරු සංඛ්‍යාව අදාළ කොටුව තුළ ලියන්න. ලකුණු පරිවර්තනය කළ යුතු අවස්ථාවලදී පරිවර්තිත ලකුණු අදාළ කොටුව තුළ ලියන්න.

**ව්‍යුහගත රචනා හා රචනා උත්තරපත්‍ර :**

1. අයදුම්කරුවන් විසින් උත්තරපත්‍රයේ හිස්ව තබා ඇති පිටු හරහා රේඛාවක් ඇඳ කපා හරින්න. **වැරදි හෝ නුසුදුසු පිළිතුරු යටින් ඉරි ඇඳ වැරදි දමන්න. ලකුණු දිය හැකි ස්ථානවල හරි ලකුණු යෙදීමෙන් එය පෙන්වන්න.**

2. ලකුණු සටහන් කිරීමේදී ඕවර්ලන්ඩ් කඩදාසියේ දකුණු පස තීරය යොදා ගත යුතු වේ.

3. සෑම ප්‍රශ්නයකට ම දෙන මුළු ලකුණු උත්තරපත්‍රයේ මුල් පිටුවේ ඇති අදාළ කොටුව තුළ ප්‍රශ්න අංකය ඉදිරියෙන් **අංක දෙකකින් ලියා දක්වන්න.** ප්‍රශ්න පත්‍රයේ දී ඇති උපදෙස් අනුව ප්‍රශ්න තෝරා ගැනීම කළ යුතුවේ. සියලු ම උත්තර ලකුණු කර ලකුණු මුල් පිටුවේ සටහන් කරන්න. ප්‍රශ්න පත්‍රයේ දී ඇති උපදෙස්වලට පටහැනිව වැඩි ප්‍රශ්න ගණනකට පිළිතුරු ලියා ඇත්නම් අඩු ලකුණු සහිත පිළිතුරු කපා ඉවත් කරන්න.

4. පරීක්ෂාකාරීව මුළු ලකුණු ගණන එකතු කොට මුල් පිටුවේ නියමිත ස්ථානයේ ලියන්න. උත්තරපත්‍රයේ සෑම උත්තරයකටම දී ඇති ලකුණු ගණන උත්තරපත්‍රයේ පිටු පෙරළමින් නැවත එකතු කරන්න. එම ලකුණ ඔබ විසින් මුල් පිටුවේ එකතුව ලෙස සටහන් කර ඇති මුළු ලකුණට සමාන දැයි නැවත පරීක්ෂා කර බලන්න.

**ලකුණු ලැයිස්තු සකස් කිරීම :**

I. එක් පත්‍රයක් පමණක් ඇති විෂයන් හැර ඉතිරි සියලු ම විෂයන්හි අවසාන ලකුණු ඇගයීම් මණ්ඩලය තුළදී ගණනය කරනු නොලැබේ.

II. එක් එක් පත්‍රයට අදාළ අවසාන ලකුණු වෙන වෙනම ලකුණු ලැයිස්තුවලට ඇතුළත් කළ යුතුය.

III. I පත්‍රයට අදාළ ලකුණු, ලකුණු ලැයිස්තුවේ "Total Marks" තීරුවේ **ඇතුළත් කර අකුරෙන් ද ලියන්න.**

IV. II පත්‍රයේ ලකුණු ලැයිස්තුව සැකසීමේ දී විස්තර ලකුණු ඇතුළත් කිරීමෙන් අනතුරුව II පත්‍රයේ අවසාන ලකුණු, ලකුණු ලැයිස්තුවේ "Total Marks" තීරුවේ ඇතුළත් කරන්න.

V. 43 චිත්‍ර විෂයයේ I, II හා III පත්‍රවලට අදාළ ලකුණු වෙන වෙනම ලකුණු ලැයිස්තුවල ඇතුළත් කර **අකුරෙන් ද ලිවිය යුතු වේ.**

VI. 21 - සිංහල භාෂාව හා සාහිත්‍යය, 22 - දෙමළ භාෂාව හා සාහිත්‍යය යන විෂයන්හි I පත්‍රයේ ලකුණු ඇතුළත් කර අකුරෙන් ලිවිය යුතු ය. II හා III පත්‍රවල විස්තර ලකුණු ඇතුළත් කර ඒ ඒ පත්‍රයේ මුළු ලකුණු, ලකුණු ලැයිස්තුවට ඇතුළත් කළ යුතු ය.

**සැ.යු :- (I) සෑම විටම එක් එක් පත්‍රයට අදාළ මුළු ලකුණු පූර්ණ සංඛ්‍යාවක් ලෙස ලකුණු ලැයිස්තුවට ඇතුළත් කළ යුතු ය. කිසිදු අවස්ථාවක පත්‍රයේ අවසාන ලකුණු දශම සංඛ්‍යාවකින් හෝ භාග සංඛ්‍යාවකින් නොතැබිය යුතු ය.**

**(II) ලකුණු ලැයිස්තුවල සෑම පිටුවකම ලකුණු ඇතුළත් කළ සහකාර පරීක්ෂක, ලකුණු පරීක්ෂා කළ සහකාර පරීක්ෂක, ඇගයීම් ලකුණු තහවුරු කිරීමේ පරීක්ෂක හා ප්‍රධාන පරීක්ෂක තම සංකේත අංකය යොදා අත්සන් කිරීමෙන් නිරවද්‍යතාව තහවුරු කිරීම අනිවාර්ය වේ.**

***

**පළමු වැනි පත්‍රය,**

## උපදෙස්

1. ඔබ පිළියෙල කරගත් කවුළු පත හෝ තීරු පත ප්‍රධාන පරීක්ෂක ලවා සහතික කරවා ගන්න.

2. පළමුවෙන් ම උත්තර පත්‍රය පරීක්ෂා කර එක් ප්‍රශ්නයක් සඳහා පිළිතුරු එකකට වඩා ලකුණු කොට ඇත්නම් හෝ කිසිදු වරණයක් ලකුණු කොට නැත්නම් හෝ වරණ හතර ම කැපී යන සේ ඉරක් අඳින්න.

3. සෑම උත්තරයක් ම හරිබව හෝ වැරදිබව හෝ පැහැදිලිව ම අදාළ ප්‍රශ්න අංකය මත ම ලකුණු කරන්න.

4. අපේක්ෂකයා ලකුණු කොට ඇති පිළිතුරු මත හරි, වැරදි (✓,✕) ලකුණු නොදමන්න.

5. කවුළු පතේ වරණ කොටු ඉදිරියේ ඇති හිස් තීරය කවුළුවක් වන සේ කපා හැර එම තීරුවෙහි ම හරි හෝ වැරදි බව හෝ දක්වන්න.

6. කවුළු පතක් හෝ තීරු පතක් යොදා ගන්නා විට නිවැරදි සීහුම ගැන විශේෂයෙන් පරිස්සම් වන්න.

7. එක් එක් තීරුවෙහි නිවැරදි උත්තර සංඛ්‍යාව පහළට එකතුකොට නිවැරදි පිළිතුරු ගණන ....... යි අදාළ කොටුව තුළ ලියන්න.

8. ලකුණු එකතු කිරීම, එම ලකුණු දෙවන පත්‍රයේ සටහන් කිරීම යන අවස්ථාවල දී බෙහෙවින් පරීක්ෂාකාරී වන්න.

9. " ✓ " ආදි ලකුණින් පිළිතුරු ලකුණු කර තිබුණ ද පිළිතුර දීම සඳහා විශේෂ පත්‍රිකාව භාවිත නොකොට ප්‍රශ්න පත්‍රයෙහි ම ඉරි ඇඳීම ආදි වශයෙන් ලකුණු කොට තිබුණ ද පිළිගන්න.

10. මේ පත්‍රයට හිමි මුළු ලකුණු ගණන 40 කි. එක් නිවැරදි පිළිතුරකට ලකුණු 01 ක බැගිනි.

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**64 S I, II**

# අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2020
# கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2020
# General Certificate of Education (Ord. Level) Examination, 2020

**දෙවන බස - සිංහල I, II**
**இரண்டாம் மொழி - சிங்களம் I, II**
**Second Language - Sinhala I, II**

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

| | |
|---|---|
| අමතර කියවීම් කාලය | - මිනිත්තු 10 යි |
| மேலதிக வாசிப்பு நேரம் | - 10 நிமிடங்கள் |
| Additional Reading Time | - 10 minutes |

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

வினாப்பத்திரத்தை வாசித்து, வினாக்களைத் தெரிவுசெய்வதற்கும் விடை எழுதும்போது முன்னுரிமை வழங்கும் வினாக்களை ஒழுங்கமைத்துக் கொள்வதற்கும் மேலதிக வாசிப்பு நேரத்தைப் பயன்படுத்துக.

Use **additional reading time** to go through the question paper, select the questions and decide on the questions that you give priority in answering.

**දෙවන බස - සිංහල I    இரண்டாம் மொழி - சிங்களம் I    Second Language - Sinhala I**

**සැලකිය යුතුයි :**

(i) **සියලු ම** ප්‍රශ්නවලට උත්තර සපයන්න.
(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) උත්තරවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ උත්තරය තෝරා ගන්න.
(iii) ඔබට සැපයෙන උත්තර පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරා ගත් උත්තරයෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.
(iv) එම උත්තර පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**கவனிக்க :**

(i) **எல்லா** வினாக்களுக்கும் விடை எழுதுக.
(ii) **1** தொடக்கம் **40** வரையுள்ள வினாக்கள் ஒவ்வொன்றிலும், (1), (2), (3), (4) என எண்ணிடப்பட்ட விடைகளில் **சரியான அல்லது மிகப் பொருத்தமான** விடையைத் தெரிவுசெய்க.
(iii) **உமக்கு வழங்கப்பட்டுள்ள விடைத்தாளில் ஒவ்வொரு வினாவுக்கும் உரிய வட்டங்களில் உமது விடையின் எண்ணை ஒத்த வட்டத்தினுள்ளே புள்ளடியை (X) இடுக.**
(iv) அவ்விடைத்தாளின் மறுபக்கத்தில் தரப்பட்டுள்ள மற்றைய அறிவுறுத்தல்களையும் கவனமாக வாசித்துப் பின்பற்றுக.

**Note :**

(i) *Answer* ***all*** *questions.*
(ii) *In each of the questions from* **1** *to* **40**, *pick one of the alternatives* (1), (2), (3), (4) *which you consider is* ***correct or most appropriate.***
(iii) ***Mark a cross*** (X) ***on the number corresponding to your choice in the answer sheet.***
(iv) *Further instructions are given on the back of the answer sheet. Follow them carefully.*

- අංක **1** සිට **5** තෙක් ප්‍රශ්නවල, **තද කළු අකුරෙන්** මුද්‍රිත පදය වෙනුවට යෙදිය හැකි වඩාත් සුදුසු පද යුගලය තෝරන්න.

  **1** தொடக்கம் **5** வரையுள்ள வினாக்களில் **தடித்த எழுத்தில்** தரப்பட்டுள்ள சொற்களுக்குப் பதிலாக இடத்தக்க மிகவும் பொருத்தமான சொற்சோடியைத் தெரிவுசெய்க.

  Select the most suitable pair of words for the word printed in **bold letters** in questions from No. **1** to **5**.

**1.** ඉක්මනින් **බස්සෙකට** නගින්න.
(1) බස් එකට  (2) බස් සෙකට  (3) බස්සෙ කට  (4) බස්සෙ එකට

**2.** මේ දවස්වල ඔය පැත්තට **වහින්නැද්ද?**
(1) වහින්න නැද්ද  (2) වහින නැද්ද  (3) වහින්නෙ නැද්ද  (4) වහිනවා නැද්ද

**3.** හෙට එනකොට **පොතග්ගේන්න.**
(1) පොතග් ගේන්න  (2) පොත ගේන්න  (3) පොත් ගේන්න  (4) පොතක් ගේන්න

4. මේ කතාව කාටවත් **කියන්නෙපා.**
(1) කියන්න එපා (2) කියන එපා (3) කියන් එපා (4) කියනවා එපා

5. හෙට **ගේන්නෝන** දේවල් ලියාගන්න.
(1) ගේන් ඕන (2) ගේන්නෝ ඕන (3) ගේන්න ඕන (4) ගේන ඕන

● අංක **6** සිට **10** තෙක් ප්‍රශ්නවල දී ඇති පද අතුරෙන් **නිවැරදි උච්චාරණය** සහිත උත්තරය තෝරන්න.
**6** தொடக்கம் **10** வரையான வினாக்களில் தரப்பட்டுள்ள சொற்களில் **சரியான உச்சரிப்பைத்** தரும் விடையைத் தெரிவுசெய்க.
Select the answer with **correct pronunciation** from the words given in questions from No. **6** to **10**.

6. (1) භාණ්ටාගාරික (2) භාණ්ඩාගාරික (3) භාණ්ඩාකාරික (4) භාණ්ටාකාරික

7. (1) උපතේශය (2) උබදේශය (3) උපදේශය (4) උබතේශය

8. (1) මත් උවදුර (2) මද් උවදුර (3) මත් උවතුර (4) මද් උවතුර

9. (1) ගපඩා සංකීර්ණය (2) ගබඩා සංගීර්ණය (3) ගබඩා සංකීර්ණය (4) ගපඩා සංගීර්ණය

10. (1) මුතල් පසුම්පිය (2) මුදල් පසුම්බිය (3) මුතල් පසුම්බිය (4) මුදල් බසුම්බිය

● අංක **11** සිට **14** තෙක් දී ඇති එක් එක් ප්‍රකාශය සඳහා **වඩාත් ගැළපෙන** ප්‍රශ්නය තෝරන්න.
**11** தொடக்கம் **14** வரையான ஒவ்வொரு கூற்றுக்கும் **மிகப்பொருத்தமான** வினாவைத் தெரிவுசெய்க.
Select the **most appropriate** question for each statement given from No. **11** to **14**.

11. බාලන් ප්‍රදර්ශනය බලන්න ගියා.
(1) බාලන් ගියේ කොහේ ද? (2) බාලන් ගියේ කීයට ද?
(3) බාලන් ගියේ කොහොම ද? (4) බාලන් ගියේ කුමක් ද?

12. තරුණ පිරිස බිත්තිවල තීන්ත ගානවා.
(1) බිත්තිවල තීන්ත ගාන්නේ ඇයි? (2) බිත්තිවල තීන්ත ගාන්නේ කොහොම ද?
(3) බිත්තිවල තීන්ත ගාන්නේ කොයිවෙලාවෙ ද? (4) බිත්තිවල තීන්ත ගාන්නේ කවු ද?

13. රාජන් පාර දිගේ දුවනවා.
(1) රාජන් දුවන්නේ කොහේට ද? (2) රාජන් දුවන්නේ කොහේ ද?
(3) රාජන් දුවන්නේ කීයට ද? (4) රාජන් දුවන්නේ ඇයි?

14. විශ්ව උදේ ම පාසලට ගියා.
(1) විශ්ව පාසලට ගියේ කොයි වෙලාවෙ ද? (2) විශ්ව පාසලට ගියේ කොහොම ද?
(3) විශ්ව පාසලට ගියේ කොහෙන් ද? (4) විශ්ව පාසලට ගියේ කොයි දවසේ ද?

● අංක **15** සිට **17** තෙක් ප්‍රශ්නවල **නිවැරදි ව අකුරු** යෙදී ඇති උත්තරය තෝරන්න.
**15** தொடக்கம் **17** வரையான வினாக்களில் **சரியான எழுத்துக் கூட்டலைக்** கொண்ட சொல்லைத் தெரிவுசெய்க.
Select the answer with **correct spellings** in questions from No. **15** to **17**.

15. (1) අද්‍යක්ෂතුමා (2) අධයක්ෂතුමා (3) අධ්‍යක්ශතුමා (4) අධ්‍යක්ෂතුමා

16. (1) ශබ්ද විකාසණය (2) ශබ්ධ විකාශනය (3) ශබ්ද විකාෂණය (4) ශබ්ද විකාශනය

17. (1) සම්මුඛ පරීක්ෂණය (2) සම්මුක පරීක්ෂණය (3) සම්මුඛ පරීක්ෂනය (4) සම්මුඛ පරීක්ශණය

● අංක **18** සිට **20** තෙක් ප්‍රශ්නවල **නොගැළපෙන** පදය තෝරන්න.
**18** தொடக்கம் **20** வரையான வினாக்களில் **பொருத்தமற்ற** சொல்லைத் தெரிவுசெய்க.
Select the **inappropriate** word in questions from No. **18** to **20**.

18. (1) රූපවාහිනිය (2) ගුවන්විදුලි යන්ත්‍රය (3) ඔරලෝසුව (4) පුවත්පත

19. (1) පැන (2) පැන්සල (3) හුනුකූර (4) යකඩකූර

20. (1) මොනරා (2) උකුස්සා (3) වලහා (4) පරෙවියා

- අංක **21** සිට **23** තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **සමානාර්ථයක් දෙන පදය** තෝරන්න.
**21** தொடக்கம் **23** வரையான வினாக்களில் ஆரம்பத்தில் தரப்பட்ட சொல்லுக்கு **ஒத்தகருத்தைத் தரும் சொல்லைத்** தெரிவுசெய்க.
Select the **synonym** for the word given at the beginning in questions from No. **21** to **23**.

**21.** බෙහෙත : (1) ඖෂධය (2) මොහොත (3) ධෛර්‍ය (4) කමත

**22.** රැකියාව : (1) හැකියාව (2) වෙහෙස (3) රක්ෂාව (4) යැපීම

**23.** සුන්දර : (1) පිවිතුරු (2) සොඳුරු (3) ආදරය (4) කරුණාව

- අංක **24** සහ **25** ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **විරුද්ධාර්ථයක් දෙන පදය** තෝරන්න.
**24, 25** ஆகிய வினாக்களில் ஆரம்பத்தில் தரப்பட்ட சொல்லுக்கு **எதிர்க்கருத்தைத் தரும்** சொல்லைத் தெரிவுசெய்க.
Select the **antonym** for the word given at the beginning in questions No. **24** and **25**.

**24.** පිරිසිදු : (1) සුපිරිසිදු (2) අපිරිසිදු (3) අතිපිරිසිදු (4) පරිසිඳු

**25.** අවශ්‍ය : (1) අත්‍යවශ්‍ය (2) අවශ්‍යතාව (3) අත්‍යාවශ්‍ය (4) අනවශ්‍ය

- අංක **26** සිට **28** තෙක් එක් එක් ප්‍රශ්නයේ දී ඇති පින්තූරය සඳහා **වඩාත් ගැළපෙන අදහස** දැක්වෙන වරණය තෝරන්න.
**26** தொடக்கம் **28** வரையான ஒவ்வொரு வினாவிலும் தரப்பட்டுள்ள படத்துக்கு **மிகப் பொருத்தமான கருத்தைக் குறிப்பிடும் விடையைத்** தெரிவுசெய்க.
Select the option that gives the **most suitable idea** for the picture given in each question from No. **26** to **28**.

**26.**
(1) කර්මාන්ත ශාලාව
(2) ආපන ශාලාව
(3) ශීතකරණය
(4) මුළුතැන්ගෙය

**27.**
(1) ප්‍රථමාධාර
(2) සහනාධාර
(3) අන්‍යෝන්‍යාධාර
(4) විශේෂ ආධාර

**28.**
(1) වහා ඇවිළෙන සුලු ය.
(2) ගිනිනිවන උපකරණය
(3) ඉන්ධන පිරවුම්හල
(4) කසළ දමන ස්ථානය

- අංක **29** සහ **30** ප්‍රශ්නවලට **ගැළපෙන උත්තරය** තෝරන්න.
**29, 30** ஆகிய வினாக்களுக்குப் **பொருத்தமான விடையைத்** தெரிவுசெய்க.
Select the **suitable answer** for questions No. **29** and **30**.

**29.** යම් කෙනෙකු විසින් කරන ලද සේවය අගයීමට ලක්කිරීම
(1) උපහාසය (2) උපමාව (3) උපවාදය (4) උපහාරය

**30.** මාළු ඇල්ලීමෙන් ජීවත් වන්නා
(1) යාචකයා (2) රියදුරා (3) ධීවරයා (4) වෙළෙන්දා

- අංක **31** සහ **32** ප්‍රශ්නවල වාක්‍ය දෙක බැගින් දී ඇත. එම වාක්‍ය දෙක එක් වාක්‍යයක් ලෙස **නිවැරදි ව** සම්බන්ධ කර **ලියා ඇති වාක්‍යය** තෝරන්න.
**31, 32** ஆகிய வினாக்களில் இரு வாக்கியங்கள் தரப்பட்டுள்ளன. அந்த இரு வாக்கியங்களையும் **சரியாக** இணைத்து ஒரு வாக்கியமாக்கி **எழுதப்பட்டுள்ள வாக்கியத்தைத்** தெரிவுசெய்க.
In questions No. **31** and **32,** two sentences each are given. Select the **sentence** that **correctly** combines the two sentences.

**31.** ඔහු පුටුවේ වාඩි වුණේ ය. ටෙලි නාට්‍යය නැරඹුවේ ය.
(1) ඔහු පුටුවේ වාඩි වෙමින් ටෙලි නාට්‍යය නැරඹුවේ ය.
(2) ඔහු පුටුවේ වාඩි වුණොත් ටෙලි නාට්‍යය නැරඹුවේ ය.
(3) ඔහු පුටුවේ වාඩි වී ටෙලි නාට්‍යය නැරඹුවේ ය.
(4) ඔහු පුටුවේ වාඩි වුණු නිසා ටෙලි නාට්‍යය නැරඹුවේ ය.

**32.** තාත්තා පුවත්පත ගෙනාවේ ය. ඔහු සිරස්තල කියවන්නට පටන් ගත්තේ ය.
(1) තාත්තා පුවත්පත ගෙනාවොත් සිරස්තල කියවන්නට පටන් ගත්තේ ය.
(2) තාත්තා පුවත්පත ගෙනවිත් සිරස්තල කියවන්නට පටන් ගත්තේ ය.
(3) තාත්තා පුවත්පත ගෙන එමින් සිරස්තල කියවන්නට පටන් ගත්තේ ය.
(4) තාත්තා පුවත්පත ගෙන්වාගෙන සිරස්තල කියවන්නට පටන් ගත්තේ ය.

- අංක **33** සහ **34** ප්‍රශ්නවල හිස්තැනට **වඩාත් සුදුසු උත්තරය** තෝරන්න.
**33, 34** ஆகிய வினாக்களிலுள்ள இடைவெளிக்கு **மிகவும் பொருத்தமான சொல்லைத்** தெரிவுசெய்க.
Select the **most suitable answer** to fill in each blank in questions No. **33** and **34**.

**33.** කමල් ...................................... මිල දී ගත්තා.
(1) යතුරු පැදියකට (2) යතුරු පැදියකින් (3) යතුරු පැදියක (4) යතුරු පැදියක්

**34.** මා යන විට ඔවුන්...................................... සිටියා.
(1) සිනාසෙනවා (2) සිනාසෙමින් (3) සිනාවකට (4) සිනාසුණොත්

- අංක **35** ප්‍රශ්නයේ **කළු කර** ඇති සංඛ්‍යාව නිවැරදි ව අකුරෙන් ලියා ඇති උත්තරය තෝරන්න.
**35** ஆம் வினாவில் **தடித்த எழுத்திலுள்ள** எண் சரியான எழுத்துகளால் எழுதப்பட்டுள்ள விடையைத் தெரிவுசெய்க.
Select the answer in which the number in **bold** print has been written in letters correctly in question No. **35**.

**35.** කොඩි කණුවේ උස සෙන්ටිමීටර **4321** කි.
(1) හාරදහස් තුන්දහස් විසි එක (2) හාරදහස් තුන්සිය විසි එක
(3) හාරසිය තුන්දහස් විසි එක (4) හාරසිය තුන්සිය විසි එක

- අංක **36** සිට **40** තෙක් එක් එක් ප්‍රශ්නයේ **ව්‍යාකරණානුකූල ව නිවැරදි** වාක්‍යය තෝරන්න.
**36** தொடக்கம் **40** வரையான ஒவ்வொரு வினாவிலும் **இலக்கண ரீதியாக சரியான** வாக்கியத்தைத் தெரிவு செய்க.
Select the **grammatically correct** sentence in each question from No. **36** to **40**.

**36.** (1) ඔවුහු පින්නවල අලි අනාථාගාරය නැරඹීමට ගියහ.
(2) ඔවුන් පින්නවල අලි අනාථාගාරය නැරඹීමට ගියහ.
(3) ඔවුහු පින්නවල අලි අනාථාගාරය නැරඹීමට ගියේ ය.
(4) ඔවුන් පින්නවල අලි අනාථාගාරය නැරඹීමට ගියේ ය.

**37.** (1) ළමයි රැස්වීමට සහභාගි වෙයි. (2) ළමයින් රැස්වීමට සහභාගි වෙති.
(3) ළමයි රැස්වීමට සහභාගි වෙති. (4) ළමයින් රැස්වීමට සහභාගි වෙයි.

**38.** (1) තරග විනිසුරුවරයා ක්‍රීඩා පිටියට පැමිණෙයි. (2) තරග විනිසුරුවරයා ක්‍රීඩා පිටියට පැමිණියා ය.
(3) තරග විනිසුරුවරයා ක්‍රීඩා පිටියට පැමිණෙති. (4) තරග විනිසුරුවරයා ක්‍රීඩා පිටියට පැමිණියෝ ය.

**39.** (1) නරඹන්නෝ ප්‍රීතියෙන් ඔල්වරසන් දෙයි. (2) නරඹන්නෝ ප්‍රීතියෙන් ඔල්වරසන් දෙති.
(3) නරඹන්නෝ ප්‍රීතියෙන් ඔල්වරසන් දුන්නා ය. (4) නරඹන්නෝ ප්‍රීතියෙන් ඔල්වරසන් දෙන්නී ය.

**40.** (1) කණුවල එල්ලා ඇති කොඩි සුළඟට ලෙළ දෙයි.
(2) කණුවල එල්ලා ඇති කොඩි සුළඟට ලෙළ දෙන්නෝ ය.
(3) කණුවල එල්ලා ඇති කොඩි සුළඟට ලෙළ දෙති.
(4) කණුවල එල්ලා ඇති කොඩි සුළඟට ලෙළ දුන්නා ය.

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்

# අ.පො.ස. (සා.පෙළ) විභාගය - 2020
# க.பொ.த (சா.தர)ப் பரீட்சை - 2020

විෂයය අංකය / பாட இலக்கம் **64** විෂයය / பாடம் **දෙවන බස - සිංහල**

## I පත්‍රය - පිළිතුරු
## I பத்திரம் - விடைகள்

| ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. |
|---|---|---|---|---|---|---|---|
| 01. | 01 | 11. | 01 | 21. | 01 | 31. | 03 |
| 02. | 03 | 12. | 04 | 22. | 03 | 32. | 02 |
| 03. | 04 | 13. | 02 | 23. | 02 | 33. | 04 |
| 04. | 01 | 14. | 01 | 24. | 02 | 34. | 02 |
| 05. | 03 | 15. | 04 | 25. | 04 | 35. | 02 |
| 06. | 02 | 16. | 04 | 26. | 02 | 36. | 01 |
| 07. | 03 | 17. | 01 | 27. | 01 | 37. | 03 |
| 08. | 01 | 18. | 03 | 28. | 02 | 38. | 01 |
| 09. | 03 | 19. | 04 | 29. | 04 | 39. | 02 |
| 10. | 02 | 20. | 03 | 30. | 03 | 40. | 01 |

විශේෂ උපදෙස් / விசேட அறிவுறுத்தல் } එක් පිළිතුරකට ලකුණු / ஒரு சரியான விடைக்கு **01** බැගින් / புள்ளி வீதம்

මුළු ලකුණු / மொத்தப் புள்ளிகள் **01 × 40 = 40**

---

පහත නිදසුනෙහි දැක්වෙන පරිදි බහුවරණ උත්තරපත්‍රයේ අවසාන තීරුවේ ලකුණු ඇතුළත් කරන්න.
கீழ் குறிப்பிடப்பட்டிருக்கும் உதாரணத்திற்கு அமைய பல்தேர்வு வினாக்களுக்குரிய புள்ளிகளை பல்தேர்வு வினாப்பத்திரத்தின் இறுதியில் பதிக.

නිවැරදි පිළිතුරු සංඛ්‍යාව / சரியான விடைகளின் தொகை: 25/40

I පත්‍රයේ මුළු ලකුණු / பத்திரம் I இன் மொத்தப்புள்ளி: 25/40

# 64 - දෙවන බස සිංහල

## II පත්‍රය

**01. ප්‍රශ්නය**

**අපේක්ෂණ :**

i. තෝරාගත් මාතෘකාවේ සෑම අංශයක් ගැන ම සලකා බලමින්, ඡේද බෙදා කරුණු ගෙන හැර දැක්වීම මගින් සංශ්ලේෂණ හා විශ්ලේෂණ හැකියාව ප්‍රදර්ශනය කිරීම.

ii. එකිනෙකට සම්බන්ධ වන සේ වාක්‍ය ලිවීම

iii. අක්ෂර වින්‍යාසය, විරාම ලකුණු පද බෙදා ලිවීම ප්‍රකාශන හැකියාව ප්‍රදර්ශනය කිරීම

ඉගෙනුම් පල

- මාතෘකාවට අදාළ ව කරුණු පෙළගස්වයි.
- මාතෘකානුකූල රචනා ලියයි.

**I කොටස / பகுதி I / Part I**

1. දී ඇති මාර්ගෝපදේශ ඇසුරු කරගෙන පහත දැක්වෙන මාතෘකාවලින් **එකක්** ගැන **වචන 100**ක පමණ රචනයක් ලියන්න.
பின்வரும் தலைப்புகளுள் **ஒன்றைத்** தெரிவுசெய்து அதன் கீழே தரப்பட்ட விடயங்களை உள்ளடக்கி ஏறத்தாழ **100 சொற்களில்** அமையுமாறு ஒரு கட்டுரை எழுதுக.
Write an essay of about **100 words** on **one** of the following topics using the given guidelines.

(අ) සුන්දර ගම්මානයක්
  (i) හැඳින්වීම
  (ii) සුන්දර වී ඇති ආකාරය
  (iii) ගමේ වෙසෙන්නන් කරන දේවල්
  (iv) ගමේ දියුණුවට හේතුව
  (v) සමාලෝචනය

(ආ) එකමුතුකමේ අගය
  (i) හැඳින්වීම
  (ii) එකමුතු ව වැඩ කිරීමේ වැදගත්කම
  (iii) කළ හැකි කාර්යයන්
  (iv) ලැබෙන ප්‍රයෝජන
  (v) සමාලෝචනය

(ඉ) හොඳ මිතුරන් ඇසුර
  (i) හැඳින්වීම
  (ii) හොඳ මිතුරන් තෝරා ගැනීමේ වැදගත්කම
  (iii) මිතුරන් තෝරා ගැනීමේ දී සැලකිය යුතු කරුණු
  (iv) ලැබෙන ප්‍රයෝජන
  (v) සමාලෝචනය

(ඊ) මා දුටු ලස්සන සිහිනයක්
  (i) හැඳින්වීම
  (ii) සිහිනයෙන් දුටු දේ
  (iii) කළ කාර්යයන්
  (iv) සිතට දැනුණු සුන්දර හැඟීම්
  (v) සමාලෝචනය

(උ) නිවස පිරිසිදු ව තබා ගනිමු
  (i) හැඳින්වීම
  (ii) නිවස පිරිසිදු ව තබා ගන්නා ආකාරය
  (iii) එසේ කිරීමෙන් ලැබෙන ප්‍රයෝජන
  (iv) පිරිසිදු තැනක විසීමේ අවශ්‍යතාව
  (v) සමාලෝචනය

**ලකුණු ව්‍යුහය**

ලකුණු ප්‍රදානයේ දී පහත සඳහන් අංශ හා ඒ පිළිබඳ ව ඇති විස්තර කෙරෙහි අවධානය යොමු කරන්න.

**(අ) අදහස් : ලකුණු 06 යි**

- මාතෘකාව ගැන පුළුල් ලෙස සලකා තිබීම
- කරුණුවල සාරවත්භාවය
- ප්‍රමාණවත් බව

**(ආ) රචනා රීතිය හා සංවිධානය : ලකුණු 10 යි**

- ඡේද බෙදා ලිවීම හා ඒවායේ ගැළපීම
- සුදුසු වචන හා වාක්‍යාංශ යොදා තිබීම
- නිර්මාණාත්මක බව
- නිවැරදි වචන භාවිතය
- වැරැදි ලෙස ලියා ඇති එක් වචනයකට ලකුණු 1 බැගින් පහක (05 ) උපරිමයකට සීමාකොට ලකුණු අඩු කරන්න. එකම වචනය කිහිප තැනක ම වරදවා ලියා ඇතොත් ඒ සියලු වැරැදි එක් වරදක් සේ සලකන්න.

**(ඇ) ශිල්පීය දක්ෂතා : ලකුණු 04 යි**

- ව්‍යාවහාරික සරල වියරණ රීති රැකීම
- පැහැදිලි අත් අකුරු
- පද බෙදා ලියා තිබීම
- විරාම ලකුණු භාවිතය

මේ කරුණු සමස්තයක් වශයෙන් සලකා ලකුණු තීරණය කරන්න.

**සැලකිය යුතුය**

1. වචන සංඛ්‍යාව 65 - 90 අතරේ ඇති රචනයකට දිය හැකි උපරිම ලකුණු ගණන 15 කි. වචන 50-64 අතරේ ඇති කල්හි දිය හැකි උපරිම ලකුණු ගණන 10 කි. වචන 40-49 අතරේ ඇති කල්හි දිය හැකි උපරිම ලකුණු ගණන 05 කි. වචන 40 ට ද අඩු කල්හි අනුපාතික ව ලකුණක් දෙන්න.
   ලකුණු දීමේ දී මුලින් දැක්වූ අ, ආ, ඇ, යන කොටස් හැම විට ම සැලකිල්ලට ගත යුතු ය.

2. අ, ආ, ඇ, යන කොටස් සඳහා ලකුණු වෙන වෙන ම දී එකතු කොට ප්‍රශ්නයේ අවසාන ලකුණු $\frac{?}{20}$ යි දක්වන්න.

3. නිවැරදි හා ගැළපෙන අදහස් ඇති තැන්වල " ✓ " ලකුණු ද වැරැදි අදහස් ඇති තැන්වලට " X " ලකුණු ද යොදන්න . උක්තාඛ්‍යාත සම්බන්ධය වැරැදි තැන්වල යටින් ඉරක් අඳින්න. වැරැදි වචනවල වැරැදි තැන්වලට " ◯ " රවුමක් යොදන්න.

**2. ප්‍රශ්නය**

**අපේක්ෂණය : දෙන ලද පින්තූරයක/ ඡායාරූපයක දැක්වෙන එක් එක් අවස්ථා හා සිද්ධි පිළිබඳ අවධානය යොමු කර ඒවා ලිඛිත බසින් නිවැරදිව ලිවීමේ හැකියාව මැන බැලීම**

**ඉගෙනුම් පල : • පුවත්පත් වාර්තාවක පින්තූර බලා තොරතුරු පැහැදිලි ව ලියයි.**

**• අද්දැකීම් ආශ්‍රයෙන් නිර්මාණාත්මක පාඨ ලියයි.**

2. දී ඇති පින්තූරය බලා, ඒ ඇසුරින් අර්ථවත් වාක්‍ය **පහක්** ගොඩනගන්න.
(වාක්‍යයක අවම වශයෙන් වචන **හතරක්වත්** තිබිය යුතු ය.)
தரப்பட்டுள்ள படத்தை அடிப்படையாகக் கொண்டு கருத்துள்ள **ஐந்து** வாக்கியங்கள் எழுதுக.
(ஒரு வாக்கியத்தில் குறைந்தபட்சம் **நான்கு** சொற்களாவது இருத்தல் வேண்டும்.)
Compose **five** meaningful sentences with reference to the given picture.
(There should be at least **four** words in a sentence).





**අපේක්ෂිත උත්තර**

(i) මෙම පින්තූරයෙන් රැස්වීමක් නිරූපණය වේ.
මෙම පින්තූරය රැස්වීමක දර්ශනයකි.

(ii) එක් අයෙක් රැස්වීම අමතයි.
එක් අයෙක් සිටගෙන සිටියි.

(iii) හාමුදුරු නමක් අසුන් ගෙන සිටියි.

(iv) සතර දෙනෙක් වාඩි වී සිටිති.
සතර දෙනෙක් වේදිකාවේ වාඩි වී සිටිති.

(v) පිරිසක් වාඩි වී සිටිති.

(vi) මෙහි ලොකු/ දිග/ මේසයක් තිබේ/ ඇත.

(vii) පුටු රාශියක් මෙහි දක්නට ලැබේ.

(viii) සිටගෙන සිටින පුද්ගලයා කණ්නාඩි දමා සිටියි.

(ix) පිරිස වේදිකාව දෙස බලා සිටිති.

(x) වේදිකාවේ පස්දෙනෙක් සිටිති.

* පින්තූරයට අදාළ ව ලියා ඇති මේ හා සමාන වෙනත් අදහස් ද පිළිගන්න.
* ලිඛිත භාෂාවෙන් නිවැරදි වාක්‍ය ලියා තිබීම අවශ්‍ය වේ.
  (එක් වාක්‍යයකට ලකුණු 02 බැගින් මුළු ලකුණු 10කි.)
* වාක්‍ය කථන බසින් ලියා ඇත්නම් වාක්‍යයකට ලකුණු 01ක් පිරිනමන්න.

**(ලකුණු 02 x 5 = 10 යි)**

**3 ප්‍රශ්නය**

**අපේක්ෂණය - දෙනු ලබන පද්‍ය පාඨයක් කියවා අවබෝධ කර ගැනීමේ හැකියාව මැන බැලීම**

**ඉගෙනුම් පල : විවිධ ලේඛන අවබෝධයෙන් කියවා තොරතුරු ප්‍රකාශ කරයි; ඉදිරිපත් කරයි.**

**II කොටස / பகுதி II / Part II**

- අංක **3** හා **4** යන ප්‍රශ්නවලින් **එකකට** පමණක් උත්තර සපයන්න.
  **3** ஆம் **4** ஆம் வினாக்களுள் ஏதேனும் **ஒரு** வினாவுக்கு மாத்திரம் விடை எழுதுக.
  Answer only **one** question from questions No. **3** and **4**.

**3.** පහත සඳහන් කවි පෙළ කියවා, අසා ඇති ප්‍රශ්නවලට උත්තර ලියන්න.
පின்வரும் கவிதையை வாசித்து, அதன் கீழ் கேட்கப்பட்டுள்ள வினாக்களுக்கு விடை எழுதுக.
Read the following poem and answer the questions given.

සුදට සුදේ සඳ එළියේ
තරු කැට දිලුණා
සීතල පිනි බිඳු හෙමිහිට
තුරු මත වැටුණා

සමන් පිච්ච අරලිය මල්
සඳ දැක පිපුණා
මිදුලේ ඇති සුදු වැලි ටික
කිරි මෙන් දිලුණා

දිලිසි දිලිසි හෙමින් හෙමින්
ඇල දොළ ගැලුවා
සීත සුළං රැලි ඇවිදින්
මා ගත වෙළුවා

හඳ හාමිගෙ තුරුලට වී
නිදියන හාවා
රන් තැටියට කිරියි පැණියි
මට ගෙන ආවා

**3 ප්‍රශ්නය - අපේක්ෂිත උත්තර**

(i) සීතල පිනි බිඳු/ පිනි බිඳු

(ii) සමන් පිච්ච, අරලිය

(iii) දිලිසි දිලිසි හෙමින් හෙමින් (දිලිසි දිලිසි හෝ හෙමින් හෙමින් හෝ ලියා තිබුණොත් ලකුණු 01)

(iv) හාවා

(v) සඳ/ හඳ හාමි/ හඳ **(ලකුණු 02 x 5 = 10 යි)**

4. පහත දැක්වෙන නිවේදනය කියවා, අසා ඇති ප්‍රශ්නවලට උත්තර ලියන්න.
பின்வரும் உரைப்பகுதியை வாசித்து, அதன் கீழ் கேட்கப்பட்டுள்ள வினாக்களுக்கு விடை எழுதுக.
Read the following announcement and answer the given questions.

මේ නුවරඑළිය මහා විද්‍යාලයේ මාධ්‍ය අංශයයි. නුවරඑළිය මහා විද්‍යාලයේ වාර්ෂික නිවාසාන්තර ක්‍රීඩා උත්සවය 2021 ජූලි මස 26 දින පැවැත්වීමට විද්‍යාලයීය ක්‍රීඩා සංගමය තීරණය කර ඇත. ක්‍රීඩා උත්සවය සැලසුම් කර ගැනීම සඳහා මූලික සාකච්ඡාවක් අද දින පෙ.ව. 11.00 ට ක්‍රීඩා සංගම් කාර්යාලයේ දී පැවැත්වේ. මේ සඳහා මයුර, හංස, කෝකිල යන ක්‍රීඩා නිවාසවල නායක නායිකාවන් සියලු දෙනාට සහභාගි වන ලෙස ක්‍රීඩා භාර ආචාර්ය රවීන්ද්‍ර කුමාර මහතා දැනුම් දී සිටියි. මෙන්න නැවතත් එම නිවේදනය ...

(i) නුවරඑළිය මහා විද්‍යාලයේ වාර්ෂික නිවාසාන්තර ක්‍රීඩා උත්සවය පැවැත්වෙන්නේ කවදා ද?
(ii) ක්‍රීඩා උත්සවය සැලසුම් කරනු ලබන්නේ කුමන සංගමය ද?
(iii) නුවරඑළිය මහා විද්‍යාලයේ ඇති ක්‍රීඩා නිවාස නම් කරන්න.
(iv) මූලික රැස්වීම පැවැත්වෙන්නේ කොහේ ද?
(v) රැස්වීමට පැමිණෙන ලෙස දැනුම් දෙනු ලබන්නේ කවුරුන් විසින් ද?



**4 ප්‍රශ්නය**

**අපේක්ෂණය - දෙනු ලබන ගද්‍ය පාඨයක් කියවා අවබෝධ කර ගැනීමේ හැකියාව මැන බැලීම**

**ඉගෙනුම් පල : • විවිධ ලේඛන අවබෝධයෙන් කියවා තොරතුරු ප්‍රකාශ කරයි, ඉදිරිපත් කරයි.**

**4 ප්‍රශ්නය - අපේක්ෂිත උත්තර**

(i) 2021 ජූලි 26
2021-07-26

(ii) විද්‍යාලයීය ක්‍රීඩා සංගමය/ ක්‍රීඩා සංගමය

(iii) මයුර, හංස, කෝකිල

(iv) ක්‍රීඩා සංගම් කාර්යාලයේ

(v) ක්‍රීඩා භාර ආචාර්ය රවීන්ද්‍ර කුමාර/ ක්‍රීඩා භාර ආචාර්ය/ රවීන්ද්‍ර කුමාර

## III කොටස / பகுதி III / Part III

- අංක **5** හා **6** යන ප්‍රශ්න **දෙකට ම** උත්තර සපයන්න.
  **5, 6** ஆகிய **இரண்டு** வினாக்களுக்கும் விடை எழுதுக.
  Answer **both** questions No. **5** and **6**.

**5.** විසිතුරුගම මහා විද්‍යාලයේ අලුතින් ඉදි කළ පුස්තකාලය විවෘත කිරීමේ උත්සවය 2021.07.27 දින පෙ.ව. 10.00 ට විද්‍යාලයීය ප්‍රධාන ශාලාවේ දී පැවැත්වීමට පාසලේ ආදි ශිෂ්‍ය සංගමය කටයුතු සංවිධානය කර ඇත. පරිත්‍යාගශීලීන්ට එදිනට පොත් පරිත්‍යාග කිරීමට අවස්ථාව හිමි වන අතර පාසලේ ශුභ සිද්ධිය පතන සැම දෙනාගේ සහභාගිත්වය එදින අපේක්ෂා කෙරේ. ඉහත සඳහන් තොරතුරු ඇතුළත් කොට සුදුසු දැන්වීම් පත්‍රිකාවක් සකස් කරන්න.

விசிதுருகம மகா வித்தியாலயத்தில் புதிதாக நிர்மாணிக்கப்பட்ட நூலகத்தின் திறப்பு விழாவினை 27-07-2021 அன்று காலை 10.00 மணிக்கு பாடசாலையின் பிரதான மண்டபத்தில் நடாத்த பழைய மாணவர் சங்கம் ஒழுங்குசெய்திருந்தது. அன்றைய தினத்தில் நன்கொடையாளர்கள் புத்தகங்களை அன்பளிப்புச் செய்வதற்கான சந்தர்ப்பம் வழங்கப்படுவதுடன் பாடசாலையின் நலன்விரும்பிகள் அனைவரும் அத்தினத்தில் கலந்து கொள்வதும் எதிர்பார்க்கப்படுகிறது. மேற்குறிப்பிடப்பட்ட தகவல்களை உள்ளடக்கிப் பொருத்தமான அறிவித்தல் ஒன்றைத் தயாரிக்குக.

The Past Pupils' Association has planned to organize the opening ceremony of the newly built library of Visiturugama Maha Vidyalaya on 27-07-2021 at 10.00 a.m. in the school main hall. The donators will get the opportunity to donate books on that day and the participation of all the well wishers of the school is expected on that day. Prepare a suitable notice including the above details.

**නැතහොත්**
**அல்லது**
**Or**

විසිතුරුගම මහා විද්‍යාලයේ ශිෂ්‍යයෝ ක්‍රීඩාවට මහත් දක්ෂතා දක්වති. අන්තර් පාඨශාලීය හා පළාත් තරගවලින් ඔවුහු නිරතුරු ව ම ජයග්‍රහණ ලබති. එහෙත් ඔවුන්ට පුහුණුවීම් කටයුතු සඳහා සුදුසු ක්‍රීඩාංගණයක් පාසල සතු ව නැත. රජයට අයත් මුඩු ඉඩමක් පාසලට යාබද ව පිහිටා ඇත. ක්‍රීඩාංගණයක් සකස් කර ගැනීම සඳහා එම ඉඩම ලබාදෙන මෙන් ඉල්ලමින් ප්‍රාදේශීය ලේකම් වෙත යැවීමට ලිපියක් සකස් කරන්න. පාසලේ ආදි ශිෂ්‍ය සංගමයේ ලේකම් අසිත බාලසූරිය ඔබ යැයි සිතන්න.

விசிதுருகம மகா வித்தியாலய மாணவர்கள் விளையாட்டுகளில் பெருமளவு திறமைகளை வெளிப்படுத்துபவர்கள். பாடசாலைகளுக்கு இடையிலான மற்றும் மாகாணமட்ட போட்டிகளிலும் அவர்கள் எப்போதும் வெற்றியைப் பெற்றுக் கொள்வர். எனினும் அவர்கள் பயிற்சியை மேற்கொள்வதற்குப் பொருத்தமான விளையாட்டு மைதானத்தைப் பாடசாலை கொண்டிருக்கவில்லை. பாடசாலைக்கு அண்மையில் அரசுக்குச் சொந்தமான வெற்றுக் காணி ஒன்று உள்ளது. விளையாட்டு மைதானம் ஒன்றை அமைப்பதற்கு அந்தக் காணியை வழங்குமாறு கோரி பிரதேச செயலாளருக்கு அனுப்புவதற்கான கடிதம் ஒன்றைத் தயாரிக்குக. பாடசாலையின் பழைய மாணவர் சங்கத்தின் செயலாளரான அசித பாலசூரிய என உங்களைக் கருதிக் கொள்க.

Or

The students of Visiturugama Maha Vidyalaya show much talents in sports. They get regular wins at inter-schools and provincial level competitions. But they don't have a suitable playground in the school for their practices. There is a barren land bordering to the school. Prepare a letter to be sent to the Divisional Secretary asking that land to construct a playground. Imagine you are Asitha Balasooriya, the secretary of Past Pupils' Association.

**(ලකුණු 02 x 5 = 10 යි)**

### 5 ප්‍රශ්නය/ 6 ප්‍රශ්නය

**අපේක්ෂණය** – **ප්‍රායෝගික ලේඛන කුසලතා මැන බැලීම**
**පරිවර්තන හැකියාව මැන බැලීම**

**ඉගෙනුම් පල :**
- රාජකාරි ලිපියක ආකෘතිය අනුගමනය කරමින් ලිපි ලියයි.
- තම අවශ්‍යතා ඉටුකර ගැනීම සඳහා ලිපි ලියයි.
- අවස්ථාව හඳුනා ගෙන ලියයි.

- අවස්ථාවට ගැළපෙන පරිදි කරුණු නිරවුල් ව පෙළගස්වයි.
- නිරවුල්ව හා පැහැදිලි ව අදහස් හුවමාරු කර ගනියි.

**දැන්වීම් පත්‍රිකාව** ලකුණු 10 යි.

1. ආකෘතිය - ලකුණු 04
2. අන්තර්ගතය - ලකුණු 04
3. ශිල්පීය දක්ෂතා - ලකුණු 02

1. ආකෘතිය - ලකුණු 04

* මාතෘකාව - ලකුණු 01
* දැනුම් දෙනු ලබන්නා - ලකුණු 01
* දිනය - ලකුණු 01
* සිත් ඇදගන්නාසුලු බව - ලකුණු 01

2. අන්තර්ගතය - ලකුණු 04

* අලුතින් පුස්තකාලයක් විවෘත කරන බව - ලකුණු 01
* පැවැත්වෙන ස්ථානය - ලකුණු 01
* දිනය හා වේලාව - ලකුණු 01
* පොත් පරිත්‍යාග කිරීමට අවස්ථාව තිබෙන බව - ලකුණු 01

3. ශිල්පීය දක්ෂතා - ලකුණු 02

ව්‍යවහාරික සරල රීති රැකීම, පැහැදිලි අත් අකුරු, පද බෙදා ලිවීම, විරාම ලක්ෂණ භාවිතය ආදි කරුණු සමස්තයක් ලෙස සලකා ලකුණු තීරණය කරන්න.

ලකුණු 02

නැතහොත්

**රාජකාරි ලිපිය** ලකුණු 10 යි.

1. ආකෘතිය - ලකුණු 04
2. අන්තර්ගතය - ලකුණු 04
3. ශිල්පීය දක්ෂතා - ලකුණු 02

1. ආකෘතිය - ලකුණු 04

* යවන්නාගේ ලිපිනය - ලකුණු 01
* ලබන්නාගේ තනතුර, ලිපිනය ආමන්ත්‍රණය - ලකුණු 01
* මාතෘකාව - ලකුණු 01
* අවසානය (අත්සන/ නම) - ලකුණු 01

2. අන්තර්ගතය - ලකුණු 04

* ශිෂ්‍යයන් ක්‍රීඩාවලට දක්ෂතා පෙන්වනබව - ලකුණු 01
* සිසුන්ගේ ජයග්‍රහණ - ලකුණු 01
* ක්‍රීඩාංගනයක් නොමැති බව - ලකුණු 01

* ක්‍රීඩාපිටියට අවශ්‍ය ඉඩම ඉල්ලීම - ලකුණු 01

3. ශිල්පීය දක්ෂතා - ලකුණු 02

ව්‍යවහාරික සරල ව්‍යාකරණ රීති රැකීම, පැහැදිලි අත් අකුරු, පද බෙදා ලිවීම, විරාම ලක්ෂණ භාවිතය ආදි කරුණු සමස්තයක් ලෙස සලකා ලකුණු තීරණය කරන්න.

ලකුණු 02

## 6 ප්‍රශ්නය

**6.** පහත දැක්වෙන දෙමළ / ඉංග්‍රීසි වාක්‍ය **සිංහලට** පරිවර්තනය කරන්න.
கீழே தரப்பட்டுள்ள தமிழ் / ஆங்கில வாக்கியங்களை **சிங்களத்தில்** மொழிபெயர்க்க.
Translate the following Tamil / English sentences into **Sinhala**.

(i) நாங்கள் நூலகம் சென்று புத்தகங்களை வாசிப்போம்.
(ii) சகோதரர்கள் இருவர் ஏழை மக்களுக்கு உதவுகின்றனர்.
(iii) சந்துனி பூந்தோட்டத்தின் படம் ஒன்றை வரைகிறாள்.
(iv) நாங்கள் கண்டிப் பெரஹர பார்ப்பதற்குப் போகின்றோம்.
(v) அமலும் கமலும் தங்கள் படிப்பில் சிறப்பாக உள்ளனர்.

(i) Let's go to the Library and read books.
(ii) Two brothers help the poor people.
(iii) Sanduni is drawing a picture of a flower garden.
(iv) We are going to see the Nuwara Perahera.
(v) Amal and Kamal are doing their studies well.

**නැතහොත්**
**அல்லது**
**Or**

පාසලේ වාර්ෂික කලා උලෙළ පැවැත්වීම සඳහා අවශ්‍ය කටයුතු සම්පාදනය වෙමින් පවතී. මෙහි මූලිකත්වය ගෙන කටයුතු කරන්නේ නර්තන විෂය භාර ගුරුතුමියයි. කලා උලෙළ පිළිබඳ ව විදුහල්පතිතුමා සමග සාකච්ඡා කිරීමට ගුරුතුමියට අවශ්‍ය වී ඇත. විදුහල්පතිතුමා සහ නර්තන විෂය භාර ගුරුතුමිය අතර ඇතිවන සංවාදය ලියන්න. ඒ සඳහා පහත සඳහන් කරුණු උපයෝගි කරගන්න.
(වාක්‍ය **10** ක් ප්‍රමාණවත් වේ.)

பாடசாலையின் வருடாந்த கலை விழாவை நடாத்துவதற்குத் தேவையான ஏற்பாடுகள் மேற்கொள்ளப்பட்டு வருகின்றன. இதற்கான முன்னேற்பாடுகளை நடனத்துக்குப் பொறுப்பான ஆசிரியை மேற்கொண்டுள்ளார். கலைவிழா தொடர்பாக அதிபருடன் கலந்துரையாட வேண்டிய தேவை ஆசிரியைக்கு ஏற்பட்டுள்ளது. அதிபருக்கும் நடன ஆசிரியைக்கும் இடையே நடைபெற்ற உரையாடலை எழுதுக. அதற்காக பின்வரும் விடயங்களைப் பயன்படுத்துக.
(**10** வாக்கியங்கள் போதுமானது.)

The necessary preparations are being made to hold the School's Annual Arts Festival. The teacher in charge of the dancing subject takes the initiative of this. Now the teacher wants to discuss about this with the principal. Write the dialogue takes place between the principal and the teacher in charge of dancing. Use the following facts for it.
(**10** sentences are sufficient.)

- කාර්යාලයට ඇතුළු වී අවසර ගැනීම හා සුබ පැතීම
- කලා උලෙළ පිළිබඳ තොරතුරු සාකච්ඡා කිරීම
- සමුගැනීම

(i) අපි පුස්තකාලයට ගොස් පොත් කියවමු
(ii) සහෝදරයෝ දෙදෙනා/ දෙදෙනෙක් දුප්පත් මිනිසුන්ට උදව් කරති.
(iii) සඳුනි මල්වත්තක පින්තූරයක් අඳිමින් සිටියි./ අඳියි.
(iv) අපි නුවර පෙරහැර බලන්නට යන්නෙමු./ යමු.
(v) අමල් සහ කමල් ඔවුන්ගේ ඉගෙනුම් කටයුතු හොඳින් සිදු කරති.
අමල් සහ කමල් තම අධ්‍යාපන කටයුතුවල හොඳින් නිරත වෙති.
අමල් සහ කමල් තම අධ්‍යාපනයේ/ අධ්‍යාපනයෙහි සාර්ථක ව නිරත වෙති.

**(ලකුණු 02 x 5 = 10 යි)**

❖ එක් වාක්‍යකට ලකුණු 02 බැගින් මෙම අදහස ලැබෙන ලෙස ලියා ඇති වෙනත් පිළිතුරු ද පිළිගන්න. වාක්‍යවල උක්තාඛ්‍යාත සම්බන්ධය නිවැරදි විය යුතු ය. අක්ෂර වින්‍යාසයේ වැරදි නොසලකා හරින්න.

❖ සමස්ත වාක්‍යය නිවැරදි ව ලියා ඇත්නම් ලකුණු 02ක් ද අදහස් පමණක් ලියා ඇත්නම් ලකුණු 01ක් ද පිරිනමන්න.



නැතහොත්

- නර්තන විෂය භාර ගුරුතුමිය හා විදුහල්පතිතුමා අතර සංවාදය

1. කාර්යාලයට පිවිසීමට අවසර ගැනීම

* නර්තන විෂය භාර ගුරුතුමිය
කාර්යාලයට පැමිණීමට අවසර ඉල්ලීම ලකුණු 01 යි

* විදුහල්පතිතුමා
කාර්යාලයට පැමිණීමට අවසර දීම ලකුණු 01 යි

2. විදුහල්පතිතුමා විමසන කරුණු 03 කට හෝ ලබා දෙන පිළිතුරු 03කට

* එක් කරුණකට 01 බැගින් ලකුණු 03යි

3. නර්තන විෂය භාර ගුරුතුමිය විමසන කරුණු 03කට හෝ ලබා දෙන පිළිතුරු 03කට

* එක් කරුණකට 01 බැගින් ලකුණු 03යි

4. සමුගැනීම
නර්තන විෂයභාර ගුරුතුමිය ලකුණු 01යි
විදුහල්පතිතුමා ලකුණු 01යි

**(ලකුණු 10 යි)**